ජී. සිරෝවා

# ඉත්තෑවිගෙ අත් මේස් කුට්ටම





ර්.සිරෝවා

# ඉත්තෑවිගෙ අත් මේස් කුට්ටම

සතුන්ගේ චර්යා විලාස ගැන
උපමා කතා, විසුළු හා තේරවිලි

චිත්‍ර
පී.කලශූෂිනා

පරිවර්තනය
රන්ජන දේවමිත්‍ර සේනාසිංහ







# කවුදෑ වැඩියෙන් පොහොසත්?

වැලි මීයා ඉපිලෙනවා-පුරසාරම් දොඩවනවා
''මා වැනි පොහොසතකු කොහිද-බිංගෙයි නම් මොනව නැතිද
මුළුතැන්ගෙයි පොඩිවුණාට-කෑම කාමරෙයි විසාල
නිදන කාමරය සනීප-ලියන කාමරේට මනාප
අටුවේ වී පුරවාලා-ගබඩාගෙය ඇත පිරිලා''

නිවසක් නැති හා පැටියා-පිටියේ පැන පැන සිටියා
උඳුපියලිය කටේ රුවා-ගස් කොටයක් වෙත ආවා
''නුඹට වඩා මං පොහොසත්-මීයෝ නුඹ හරි දුප්පත්
දකින්න නැත හිරු කිරණක්-කුමට එවන් ජීවිතයක්''



# තේරවිල්ලක්

හිරු එනවිට හැංගෙන්නේ-රෑටයි දඩයමෙ යන්නේ
මුගටියටයි සම වෙන්නේ-පුළුවන් නම් තෝරන්නේ

(හෝතඹුවා)



# නරි හාමි

තඹ ලොම් ඇඟ පුරා ඇතේ-කියා මට නිතර බනිතේ
ලැජ්ජාවක් හිතෙත් නැතේ-කියා මට නිතර බනිතේ
කුකුළන් කනු නිමක් නැතේ-කියා මට නිතර බනිතේ
හාවුන් කනු නිමක් නැතේ-කියා මට නිතර බනිතේ

බැරිය ඊට වග වෙන්නට
කුකුළන් බේගල් දෙඩුවට





# මේ කවුද?

දහසක් උල් කටු ඇඟ වට-හතර අතට ඇදුණු දිගට
''බැරිය කිසිදු ජගතකු හට-මා හා කටමැත දෙඩුමට''

වෘක රාළ කැඳවනවා-''ඊයි'' කියා අමතනවා
''කූරු හොද්ද ඊදෙනවා-රහ බලන්න මෙහෙ එනවා''



වෘකය දැනමුතුකම් ඇති-කල්පනාවෙ පසුවෙනවා
පරෙස්සමට තැන දිය යුතු-බව ඉඟියෙන් තේරෙනවා





''ඇරයුම නම් පංකාදුයි-මේ දැන් කෑවා විතරයි
බඩ පිරිලා, ස්තූතියි-හෙට එන්නම්, එනු සිකුරුයි''



# ඉත්තෑවිගෙ අත් මේස්

කොහේ ගියත් ඉත්තෑ පැටවුන් ටික
කරදරයක් නම් නොවේය නැත සැක







ඉත්තෑ අම්මා පස්සෙන් යනවා
අත් මේසේ කටු උන් සුරකිනවා



# ගෝන හාමුගෙ රාත්‍රී භෝජනය



ගෝන හාමු නරි නයිදෙව කැඳවා
රෑට කෑමකට ඇරයුම් කෙරුවා

රස කර තණකොළ මැල්ලුම් හැදුවා
ගස්කොට බැදුමට මොර කොළ ඉවුවා

# පියාපත් ලද මීයා



මී අප්පා පුරසාරම් දෙඩුවා
කෑම මේසයම හොල්ලා නැටුවා
''ලැබුනොත් මා හට අත්තටු යුගලක්
වෙනව, දෙකක් නෑ, රාජාලියෙක්''

මීයට අත්තටු යුවලක් ලැබුණා
බැලුව විටදි ඌ දෙස දුක හිතුනා
එඩිතර රාජාලියකු වෙනුවට
කැත, කළු වවුලකු සිටිනව දුටුවා



# වෘක පැටවු







හිමින් හිමින් කැලෙන් බහින
වෘක පැටවු පස් දෙනයි
බඩගිනි වී දත්මිටි කන
උන් කට කියතට සමයි

නොදැනෙන්නට හතර වටින්
වට කරලා පහර දෙයි
වෘක රැළේ බලපානා
නීති දහම් ඔය වගෙයි





අනුන්ට හිංසා කරනා
නපුරු සතුන් පිටු දකින්න
දඩයක්කරුවනි ඇවිදින්
මුන් ටික පළවා හරින්න

# හාවකු හා කතාබහක්

''මම අසරණ හාවෙක් වෙමි-පිළිසරණක් නැතිව වෙසෙමි
අවාසනාවන්තයෙක්මි-සිරවී ජීවිතය ගෙවමි''

''පයේ පාවහන් නොමැතිය-සිතේ හැම විටම භීතිය
ඇහේ උපතෙ සිට වපරය''-හාවා හැඬූ කඳුලෙන්මය

හඬන්නටත් වෙද කරුණක්-වපරය නොම වේය දුකක්
නැතිය කියා පා වැස්මක්-කුමට ගන්නවාද සොවක්



හාවකු ලෙස ඉපදීමත්
කරපු කුසල් පළදීමක්
නමුත් බියෙන් දුක්විඳුමක්
නොම වෙද පව් පළදීමක්

# ගොලුබෙල්ලයි බෙලිකටුවයි



වටකුරුවට ගෙයක් ඇතේ
එහි පොඩි දොරටුවක් ඇතේ
අඳුනන අය ළඟින් යතේ
ස්වාමියා හිස වනතේ

මාලු පැටික්කියෙක් ඇතේ
සිනහව සංග්‍රහය වෙතේ
කුරුමිණි පුංචකුත් ඇතේ
ඌ වෙත අං දෙක වනතේ



සතුරා ළඟ ළඟම එතේ
පොකිරිස්සා අඬු වනතේ
''හොඳ හිතින්'' කියා කියතේ
''බැහැපන් එළියට'' බනිතේ





''යටත් වෙන්නෙ නැහැ'' බෙනෙතේ
ගොලුබෙල්ලා සැඟවගතේ
'දඩස්' සද්දයක් නැගෙතේ
දොර පියනද වැසී යතේ



